ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**45 | S | I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2019 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2019 டிசெம்பர்
**General Certificate of Education (Ord. Level) Examination, December 2019**

**හරත නැටුම් I, II**
பரதநாட்டியம் I, II
Bharatha Dancing I, II

**2019.12.10 / 0830 - 1140**

පැය තුනයි
மூன்று மணித்தியாலம்
*Three hours*

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේ දී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

## භරත නැටුම් I

**සැලකිය යුතුයි :**

(i) **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
(iii) **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරා ගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ ( X ) ලකුණ යොදන්න.**
(iv) එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** කතරගම දෙවියන් වන්දනාමාන කිරීම සඳහා ඉදිරිපත් කරන ග්‍රාමීය නර්තනය
(1) කුම්මි ය. (2) කෝලාට්ටම් ය. (3) කාවඩි ය. (4) කරගම් ය.

**2.** මත්ස්‍ය අවතාරය පෙන්නුම් කරන සම්යුත හස්තය, අසම්යුත හස්තයට පරිවර්තනය වීමේ දී ගොඩනැගෙන හස්තය වනුයේ
(1) අර්ධ චන්ද්‍ර ය. (2) පතාක ය. (3) මෘගශීර්ෂ ය. (4) ත්‍රිපතාක ය.

**3.** මාත්‍රා 22 කින් යුත් තාලය දැක්වෙනුයේ
(1) $I_9$ O O ලෙස ය. (2) $I_9$ $I_9$ O O ලෙස ය. (3) $I_9$ O $I_9$ $I_9$ ලෙස ය. (4) $I_9$ U O ලෙස ය.

**4.** සභාලක්ෂණහි ශාස්ත්‍ර යන්නෙන් අර්ථ ගැන්වෙනුයේ කුමක් ද?
(1) කල්ප වෘක්ෂය (2) අතු (3) කුරුමිණියා (4) මල

**5.** ශිව දෙවියන් විසින් කාත්තල් තාණ්ඩව නර්තනය ඉදිරිපත් කරන ලද ස්ථානය වනුයේ
(1) තිරුනල්වේලී තාමර සභා ය. (2) තිරුකුට්ට්‍රාල චිත්‍ර සභා ය.
(3) වෙල්ලියම්පදි රජිත සභා ය. (4) තිරුවාලංකාඩ රත්න සභා ය.

**6.** නාසයේ එක් පැත්තකට පමණක් පළඳින රවුම් හැඩැති ආභරණය වනුයේ
(1) වංගි ය. (2) බුල්ලාක්කු ය. (3) රාක්කොඩි ය. (4) නත්ත ය.

**7.** අෂ්ටපදී සඳහා යෙදෙන වෙනත් නමක් වනුයේ
(1) ගීත ගෝවින්දය ය. (2) කීර්තන ය. (3) ජාවලී ය. (4) පදම් ය.

**8.** කණ්ඩ ජාති මට්ටිය තාලය දැක්වෙනුයේ
(1) $I_5$ $I_5$ O O ලෙස ය. (2) $I_5$ ලෙස ය. (3) $I_5$ O $I_5$ $I_5$ ලෙස ය. (4) $I_5$ O $I_5$ ලෙස ය.

**9.** ශබ්දම් නර්තනය නිර්මාණය වී ඇති තාලය
(1) ත්‍රිපුට තාලයයි. (2) ඒක තාලයයි. (3) චාපු තාලයයි. (4) රූපක තාලයයි.

**10.** උත්තර භාරතීය ශාස්ත්‍රීය නර්තන සම්ප්‍රදාය කුමක් ද?
(1) කුච්චිපුඩි (2) කථක් (3) මෝහිනී (4) කථකලි

[දෙවැනි පිටුව බලන්න.

**11.** 'කොහොඹා කංකාරිය' ශාන්තිකර්මය අයත් නර්තන සම්ප්‍රදාය වනුයේ
(1) රුහුණු සම්ප්‍රදායයි. (2) සබරගමු සම්ප්‍රදායයි.
(3) උඩරට සම්ප්‍රදායයි. (4) පෙරදිග සම්ප්‍රදායයි.

**12.** ශිව හස්තය අයත් වන දස අවතාර හස්තය කුමක් ද?
(1) නරසිම්ම (2) පරසුරාම (3) බලරාම (4) වාමන

**13.** රැල්ල මෙන් නැගීමත්, නාගයකු මෙන් ශාරීරික නම්‍යශීලීභාවයත් සහිතව යෙදෙන නර්තනය
(1) ඔඩිසි ය. (2) කථකලි ය. (3) මෝහිනී ය. (4) මනිපුරි ය.

**14.** බීභත්ස්‍ය රසයට ප්‍රතිවිරුද්ධ රසය කුමක් ද?
(1) රෞද්‍ර (2) ශෘංගාර (3) හාස්‍ය (4) භයානක

**15.** 'තා තෙයි තෙයි තත්' අඩව්ව සඳහා යෙදෙන ඓතිහාසික නාමය වනුයේ
(1) පරවල් අඩව්ව ය. (2) මකුට අඩව්ව ය. (3) ඌන්ජල් අඩව්ව ය. (4) පාච්චල් අඩව්ව ය.

**16.** ජාති භේදයෙහි වෙනස් වීමේ අංගය වනුයේ
(1) අනුද්‍රැතම් ය. (2) ද්‍රැතම් ය. (3) ලඝු ය. (4) ප්ලුතම් ය.

**17.** චක්‍රවාහේ (රෝදය) නිරූපණය සඳහා යෙදෙන හස්ත මුද්‍රාව වනුයේ
(1) අලපද්ම ය. (2) සූචි ය. (3) පද්මකෝෂ ය. (4) චතුර ය.

**18.** පංචපානාම්හි නවමාලිකා යනුවෙන් හඳුන්වනුයේ,
(1) නෙලුම් ය. (2) ලිලී ය. (3) අසෝක ය. (4) පිච්ච ය.

**19.** රාමනාද කීර්තනම්හි කතුවරයා කවුරුන් ද?
(1) ශිවානන්දම් (2) පොන්නයියා
(3) අරුණාචල කවිරු (4) ගෝපාල ක්‍රිෂ්ණභාරතියාර්

**20.** ඇඟිල්ලේ එකම මුද්‍රාව භාවිත කර අභිනය දක්වන, දස අවතාරයෙහි එන මුද්‍රා ගණන කොපමණ ද?
(1) තුනකි (2) හතරකි (3) පහකි (4) හතකි

**21.** භරත නාට්‍යම් සම්ප්‍රදායේ උත්තරාංගය ලෙස සැලකෙන්නේ කුමක් ද?
(1) පදම් (2) කීර්තනම් (3) අෂ්ටපදී (4) තිල්ලානා

**22.** නර්තනය සඳහා කුත්තු, ආඩල්, කුනිප්පු යන නාම භාවිත කරන ලද්දේ කුමන යුගයේ දී ද?
(1) සංක (2) සංක මරුවිය (3) පල්ලවර් (4) චෝලර්

**23.** කලියිතෙප් නම් ආධාරකය භාවිතයෙන් වයනු ලබන වාද්‍ය භාණ්ඩය වනුයේ
(1) උඩුක්කුව ය. (2) ඩොල්කිය ය. (3) තබ්ලාව ය. (4) තවිල් ය.

**24.** ජදීශ්වරම්හි අන්තර්ගත අංග පිළිවෙළින්
(1) පල්ලවී, අනුපල්ලවී ය. (2) පල්ලවී, අනුපල්ලවී, චරණම් ය.
(3) පල්ලවී, මුක්තායි ස්වරම්, චරණම් ය. (4) අනුපල්ලවී, පල්ලවී, චරණම් ය.

**25.** බ්‍රහස්පතී ග්‍රහයා හඳුන්වන සංස්කෘත නාමය කුමක් ද?
(1) කුජභ (2) සුක්කිර (3) අංකාරහ (4) බ්‍රහස්පති

**26.** ත, ක, දිමි, තා : යන පදයට අයත් අක්ෂර ප්‍රමාණය
(1) අටකි. (2) දහයකි. (3) එකොළහකි. (4) දොළහකි.

**27.** නර්තනයේ දී යෙදෙන වර්ණම් වනුයේ
(1) පද වර්ණම් ය. (2) තාන වර්ණම් ය. (3) සාහිත්‍ය වර්ණම් ය. (4) ස්වර වර්ණම් ය.

**28.** අනංගන්, මදනන්, මදනවේල් යන නම්වලින් හැඳින්වෙන දෙවියා
(1) මදසූදනන් වේ. (2) මාදවන් වේ. (3) යාදවන් වේ. (4) මන්මදන් වේ.

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

45 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2019 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2019 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2019

භරත නැටුම් I, II
பரதநாட்டியம் I, II
Bharatha Dancing I, II

## භරත නැටුම් II

※ **පළමුවැනි** ප්‍රශ්නය හා අනෙකුත් ප්‍රශ්නවලින් **හතරක්** ද තෝරා ගෙන ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

**1.** පහත සඳහන් ප්‍රශ්නවලට කෙටි පිළිතුරු සපයන්න.

(i) "වික්නානාම් නාශනම්...... " යන්නෙන් ආරම්භ වන නර්තන ශ්ලෝකය කුමක් ද?

(ii) විෂ්ණු දෙවියන් භූමිය පසාරු කොට භූමි පතුලෙහි හිරණ්‍යාක්ෂ සෙවීම සඳහා භාවිත කළ අවතාරය කුමක් ද?

(iii) සංගීත නාල්වර් (තන්ජාවූර් සහෝදරයන්) සඳහා තුලජා මහාරජු විසින් පිරිනමන ලද ගෞරව නාමය කුමක් ද?

(iv) දේසිංගු රාජු රජුගේ ජීවන තොරතුරු ගයමින් ගමන් ගත් වීදි ගායකයින් වාදනය කළ සංගීත භාණ්ඩය කුමක් ද?

(v) "තතන තන තන තජොනු ජොනු ජොනු ......... " යනුවෙන් ආරම්භ වන නර්තන අංගය කුමක් ද?

(vi) කඩුව ඇතෙහි රඳවා ගනිමින් රඟ දක්වන කූත්තු විශේෂය කුමක් ද?

(vii) උදාසීනකම පෙන්වීම සඳහා ශිරෝ භේදයෙහි එන අභිනය කුමක් ද?

(viii) යශෝදා හා ක්‍රිෂ්ණා තුළින් විදහා දැක්වෙන අභිනය කුමක් ද?

(ix) උඩුක්කු හැඳින්වීම සඳහා යෙදෙන සමාන නාම **දෙකක්** ලියන්න.

(x) නිරුත්ති අංගය සඳහා උදාහරණ **දෙකක්** දක්වන්න.

**2.** (i) අඩව් යන්න හඳුන්වන්න.

(ii) මකුට අඩව් නම් කොට ඒවායේ තාල රූප, නර්තනමය වාචිකය හා භාවිත වන හස්ත මුද්‍රා ලියා දක්වන්න.

(iii) ඔබ කැමති මකුට අඩව්වක් ලය කාල ප්‍රමාණ තුනට ලියා දක්වන්න.

**3.** පහත සඳහන් හස්ත නාමවලට අදාළ විනියෝග, ඒවායේ ශ්ලෝක හා අර්ථ සමග ලියා දක්වන්න.

(i) හම්සාස්සියම (ii) පුෂ්පපූට (iii) අවහිත්ත

**4.** තන්ජයි පෙරුම් කෝවිල්, ඓතිහාසික සිද්ධාන්තය නිරූපණය කරන පාරම්පරික සංකේතය වේ.

(i) එම කෝවිල නිර්මාණය කළ කාලපරිච්ඡේදය හා එය නිර්මාණය කළ රජුගේ නම ලියා දක්වන්න.

(ii) ඉහත (i) හි සඳහන් රජු හඳුන්වන ගෞරව නාම **හතරක්** සඳහන් කරන්න.

(iii) එම ගොඩනැගිල්ලේ නිර්මාණාත්මක ලක්ෂණ සඳහන් කර, මෙම කෝවිල භරත නාට්‍යම් සම්ප්‍රදායේ පැවැත්මට දැක් වූ දායකත්වය උදාහරණ දක්වමින් විස්තර කරන්න.

**5.** පහත සඳහන් ඒවා පිළිබඳ කෙටි සටහන් ලියන්න.

(i) වැදි නැටුම (ii) තීරුමාණම් (iii) කිංකිණි ලක්ෂණ

**6.** (i) භරත නාට්‍යම් සම්ප්‍රදායේ ප්‍රධාන පසුබිම් වාද්‍ය භාණ්ඩය නම් කරන්න.

(ii) ඉහත (i) හි සඳහන් වාද්‍ය භාණ්ඩයේ ව්‍යුහය හා එය භරත සම්ප්‍රදායේ දී භාවිතයට ගැනෙන අයුරු විස්තර කරන්න.

(iii) එහි රූප සටහනක් ඇඳ කොටස් නම් කරන්න.

**7.** ඔබ දුටු නෘත්‍ය නාටකයක චතුර්විධ අභිනය භාවිත කර ඇති අයුරු විස්තර කරන්න.

※ ※ ※

**29.** රංග වස්ත්‍ර හා ආභරණ අයත් අභිනය වර්ගය කුමක් ද?
(1) ආංගික අභිනය (2) වාචික අභිනය (3) ආහාර්ය අභිනය (4) සාත්වික අභිනය

**30.** නවග්‍රහ හස්තවල රාහු ග්‍රහයා නිර්මාණය වනුයේ
(1) දකුණු හස්තය සර්ප ශීර්ෂය හා වම් හස්තය සූචි මගිනි.
(2) දකුණු හස්තය සූචි හා වම් හස්තය සර්ප ශීර්ෂ මගිනි.
(3) දකුණු හස්තය සූචි හා වම් හස්තය පතාක මගිනි.
(4) දකුණු හස්තය පතාක හා වම් හස්තය සූචි මගිනි.

**31.** පන්දුව භාවිත කර සෙලලම් කිරීම විදහා දැක්වෙන හස්ත මුද්‍රාව
(1) අලපද්මම් ය. (2) පද්මකෝෂ ය. (3) මුකුලම් ය. (4) පුෂ්පපුටම් ය.

**32.** ශුද්ධ නිරුත්ත වර්ගයට අයත් නර්තන අංගය කුමක් ද?
(1) පදම් (2) වර්ණම් (3) ශබ්දම් (4) ජතීෂ්වරම්

**33.** 'පාදචාරිකා' යන්නෙන් අර්ථ ගැන්වෙනුයේ
(1) සිටගැනීම ය. (2) පැනීම ය. (3) ඇවිදීම ය. (4) කැරකීම ය.

**34.** පහත සඳහන් නර්තන අතුරෙන් පිරිමි දරුවන් පන් තොප්පිය පැළඳ සිදු කරන ගැමි නර්තනය කුමක් ද?
(1) සුලකු නර්තනය (2) ධීවර නර්තනය (3) කඩු නර්තනය (4) දඩයම් නර්තනය

**35.** පාශ හස්තය හා නාට්‍යාරම්භයේ මෘග ශීර්ෂ හස්තය මගින් නිරූපිත බාන්ධව හස්තය වනුයේ
(1) අනියම් බිරිඳ ය. (2) නැන්දම්මා ය. (3) ලේලිය ය. (4) අඹුසැමි යුවල ය.

● අංක **36** සිට **40** තෙක් එක් එක් ප්‍රශ්නයේ හිස්තැනට ගැළපෙන පිළිතුර තෝරන්න.

**36.** 'ඉසෛයියල්' නම් ව්‍යාකරණ ග්‍රන්ථය ප්‍රකාශයට පත් කරන ලද්දේ .......................... විසිනි.
(1) කානා පොන්නයියා පිල්ලෙයි (2) වලුවූර් රාමායියා පිල්ලෙයි
(3) පන්දනෙ නල්වූර් මීනාක්ෂි සුන්දරම් පිල්ලෙයි (4) අරුණාචල කවිරායර්

**37.** ඩී.එස්. ස්වාමිනාද පිල්ලෙයි සහ ඩී.ආර් මහාලිංගම් වඩාත් ප්‍රසිද්ධ වූයේ .......................... වාදනයෙනි.
(1) වයලීනය (2) වීණා (3) බටනලා (4) මෘදංගම්

**38.** කෝවලන් කුත්තු .......................... දිස්ත්‍රික්කයේ වඩාත් ප්‍රචලිතව රඟ දැක්වේ.
(1) යාපනය (2) මඩකලපුව (3) මන්නාරම (4) මුලතිව්

**39.** නටුවාංග තාලයේ නූල ආධාරකය මගින් .......................... පිළිබිඹු වේ.
(1) ශක්ති හා ශිවම් (2) රාහු හා කේතු (3) සූර්යයා හා චන්ද්‍රයා (4) ලක්ෂ්මී හා සරස්වතී

**40.** සීය මංගලම් ලෙනෙහි නඩරාජා ප්‍රතිමාව අයත් වනුයේ .......................... පරිච්ඡේදයට ය.
(1) පල්ලව (2) නායක්කර් (3) පාණ්ඩියර් (4) යුරෝපීය

**